# කාටත් පාඩමක්

කෝර්නි චුකෝව්ස්කි





# කාටත් පාඩමක්

ඇඳ රෙදි, ඇතිරිලි මාගේ,
ඇඳෙන් බිමට පැන යති.
බැලුන් බෝලයක් වාගේ,
උඩු ගුවනේ පාවෙති!

පැන යන ගෙම්බෙකු වගේ,
හැසිරෙයි කොට්ටය මගේ!

එළියක් දල්වන්නට අත පෑවා,
ඉටිපන්දම උදුනට පැන දිව්වා!

පාන්දරින් තේ බොන්නට සිතුණා,
'සමොවාරය' අසලට පිය නැඟුණා.
මා දැක බියකින් මෙන් ගල් ගැසුණා,
කෝප්ප, පීරිසි පැන යයි සැඟුනා!



මේක හරි පුදුමයක්,
හීනයක් වගේමයි!
මෙහෙම සක බමරයක්,
දකින්නෙත් අද තමයි!

ලාච්චුව පිටුපසින් සපත්තුව දුවනවා,
සපත්තුව පරදන්ට සෙරෙප්පුව පනිනවා,
සෙරෙප්පුව පසුපසින් කරත්තය ඇදෙනවා,
මේ හැමට පිටුපසින් මගේ පොත් දුවනවා!

ගල්කූර, පැන්සලය, රතුපාට පින්සලය,
තාත්තගෙ හම්පටිය, අම්මාගෙ කේතලය,
එකක් පසුපස එකක් වේගයෙන් දුවනවා,
රෝදයක් වගේ මා වටේටම කැරකුණා!

හිටි හැටියෙම මැද සාලය පැත්තෙන්,
කවුදෝ එනවා මහ කලබොලයෙන්.
සාලයෙ දොර ඇරුණා හඬ නගමින්,
ලොකු දිය බේසම එයි කොර ගසමින්!

බේසම මා ඉදිරියටම ආවා,
හිස සිට දෙපතුල දක්වා බැලුවා!
දැනමුත්තකු ලෙස හිස සෙලවූවා,
මා අමතා ඔහු මේ ලෙස කීවාඃ

"අලුයම ඇඟපත නැහැ සෝදන්නේ,
දත නැහැ මැද හිස පීරා ගන්නේ!
මඩ ඌරකු වාගෙයි නුඹ ඉන්නේ,
පිරිසිදුකම නැහැ බිඳුවක් දන්නේ!"

"දෑතෙහි ඇත කුණු පැල්ලම් බැඳිලා,
කලිසම පැන යයි නුඹ අතහැරලා!
දූවිලි පිරි දෙපයේ ඉව දැනිලා,
ඇඳ රෙදි, ඇතිරිලි යයි බිය වැදිලා!"

"කම්මැලිකම් දුරලතී - පාන්දරින් නැගිටිතී,
මී පැටියෝ එක්වෙතී - දිය නෑමට දුව යතී.

පූස් පැටව්, තාරාවෝ - උදෙන්ම ගඟ වෙත ආවෝ,
ලේන් පැටව්, රටහාවෝ - හොඳ හැටි පිරිසිදු වූවෝ."





"අපිරිසිදුව ඉන්න එකම, - කිලුටු පාල නුඹ තමයි!
නුඹට අයිති හැම දෙයක්ම, - නුඹ හැරදා පැන දුවයි!"

"සබන් කැටය, දත්කුඩු සැරදේවා!
පනාව, දත් බුරුසුව වැජඹේවා!
තුවාය, බේසමටත් ජය වේවා!
පිරිසිදුකම මුළු ලොව පැතිරේවා!"

උදය හවස නොවරදවා හැමදින,
ඇඟපත සෝදා ගතහොත් සැමදෙන,
බාල, මහලු, කාටත් එය ගැළපෙන,
අගනා ඔසුවකි ලෙඩදුක් දුරලන!

වැව්, ළිං, ගංගා, ඇළ, දොළ, සැමතැන,
ගැලොම් දහස් ගණනින් අපතේ යන,
කවදාවත් මුදලක් අය නොකරන,
පිරිසිදු ජලයෙන් පිරිසිදු වනු මැන!

"හැම බේසමටම ලොවේ,
නායක බේසම මමයි!
මගෙ බේසම් හමුදාවේ,
අණදෙන්නා මා තමයි!"



"පය බිම ගැසු පමණින් මා අණසක,
පිළිගෙන හේවායෝ එති නොව සැක!"

"මහ සයුරේ රළගෙඩි නංවන හඬ,
සිහියට නැඟ එයි උන් නඟනා හඬ!"

"බේසම් හමුදාවේ හේවායෝ,
සෝදන වැඩටම උපන් සූරයෝ!"



"උණු දිය පුරවා ලොකු බේසමකට,
රෙදි සෝදන කුඩු දියකර පදමට,
පොල් කොස්සක් පොඟවා එහි කදිමට,
උන් හරි සූරයෝ කුණු ගැලවීමට!"



"කරබරාස්", බේසම අණාදුන්නා!
හඬනගමින් හේවායෝ එන්නා!

පැන යන්නට මා ආපසු හැරුණා,
බේරෙන හැටියක් නැති බව පෙනුණා!

කෑ කෝ ගසමින්, පොල්කොසු වනමින්,
හෙණ හඬ පරයන ලෙස පා තබමින්,
ඇද්දා, මැද්දා, ඉලුවා, අවිදින්!
කොහොමත් බේරීමක් නෑ උන්ගෙන්!






සබන් කෑල්ලක් පැනගෙන ආවා!
මා හිස මත ඒ මේ අත දිව්වා!
පෙණ ගොඩකට මොහොතින් මැදි වූවා,
බලන අයට නම් සෙල්ලම් මේවා!

වැටකොළු කොස්සක් පස්සෙන් ආවා,
හිස සිට දෙපතුල දක්වා දිව්වා,
පිට රතු වන තුරු උඹ බඩ ගෑවා,
මා යන හැම තැනටම දුව ආවා!



දුවන්ට පැත්තක් සොයමින් උන්නා.

වැටට උඩින් පැන අල්ලපු වත්තට,
මහන්සි ඇරලා බැලුවා වටපිට.

වක්කඩ ගාවින් ගොඩවී නියරට,
කවුදෝ එනවා අපෙ ගේ පැත්තට.
දවසේ තොරතුරු හෙම දැන ගන්නට,
කිඹුල් මාම එන්නේ හොඳ දවසට!

වැටකොළු කොස්සත් පස්සෙන් ආවා,
මාමා එය එක කටටම කෑවා!
ඇස් දෙක ඔරවා මා දෙස රැව්වා,
අඩි හප්පා ඔහු මට සැර වූවා:

"වහාම නොගියොත් ඇඟ සෝදන්නට,
දෙනවා ගුටියක් මතක හිටින්නට!"

"ආයෙත් කවදාවත් නොකරන්නට,
ගිලදමනව සත්තයි එක උගුරට!"

මෙදා පොටේ එන හැටිනම් හරි නෑ,
කිඹුල් මාමගේ හැඩරුව හොඳ නෑ,
කිව්වොත් කිව්වා, කතා දෙකක් නෑ,
මාම එක්ක ඔය වැඩි සෙල්ලම් නෑ!





දුන්නෙන් ගිලිහුණු හීයක් වාගේ,
දිව්වා බේසම අසලට මාගේ!

සබන් කැටය ගත්තා මා සුරතට,
අත පය සෝදා ගත්තා කදිමට.

දූවිලි, මඩ, කුණු සෝදා දැමුවා,
තීන්ත පැල්ලම් එකකුදු නැතුවා!

මුහුණත් මගෙ හරි ලස්සන පාටයි,
බලන්නටත් කාටත් හොඳ පිරියයි.

පාඩම් පොත්, කොපි පොත්, මුද්දර පොත්,
පැන්සල්, පින්සල්, යස සිත්තම් පොත්,
සෙල්ලම් බඩු, ගල්කූරු, ගණන් පොත්,
ළඟටම එනවා මේ දේ කෝකත්!



කැවුමක් දුවවිත් පැන්නා කටටම!
කිරිබත් කැටයක් ආවා අතටම!

දකුණු අතේ මගෙ ලොකු අඹ ගෙඩියක්,
වම් පැත්තෙන් පැණි හැලෙන වළල්ලක්!

පොල්කොහු සේනාවෙන් වැඩ ගන්නා,
බේසම් හමුදාවේ අණදෙන්නා,
ඒ ලොකු බේසම් ලොක්කා එන්නා,
ආදරයෙන් මා ගෙන සිඹගන්නා!



“හොඳ ළමයෙකු හැටියට පිළිගන්නට,
පුළුවනි, ආදර පැංචෝ දැන් මට!
එක දවසට ඇති වූ මේ වෙනසට,
මට නම් බැහැ සිත අදහා ගන්නට!”

# කාටත් පාඩමක්

## කෝර්නි චුකෝව්ස්කි







**Kanol Publishing House**
1196/4, Kottawa Road, Pannipitiya
Tel: 011 4336778, 071 3493447
kanolpublish@gmail.com
**kanolbooks.blogspot.com**

ISBN 978-955-1979-75-1

**Rs. 150/-**
9 "789551"979751"